සෝවියට් ලේඛක
විටලි බියන්කි

# මෙවලම් නැතිව ගෙවල් හදන්නෝ

සිතුවම්
වී. ෆෙදොතොව්

මහින්ද සෙනරත් ගමගේ

සෝවියට් ලේඛක

# විටලි බියාන්කි

# මෙවලම් නැතිව ගෙවල් හදන්නෝ

මහින්ද සෙනරත් ගමගේ

සිතුවම්

**වී. ෆෙදොතොව්**

පළමු මුද්‍රණය 2008

ISBN 978-955-1889-07-8

මුද්‍රණය සහ ප්‍රකාශනය

**සයුරි ප්‍රින්ටර්ස් ඇන්ඩ් පබ්ලිෂර්ස්**

අංක: 102/107

මත්තේගොඩ නිවාස සංකීර්ණය පාර

මත්තේගොඩ

0115 - 676483 0715 - 181421

ෆැක්ස් : 0112 - 844961

මේ ප්‍රහේලිකාව විසඳන්න:
"මේ කියන කෙනාට අත් නෑ, පොරොවකුත් නෑ. ඒත් එයා ලී දඬුවලින් කුටියක් හදනවා. එයා හදන්නේ මොන වගේ කුටියක්ද ?
"කුරුළු කූඩුවක් නොවෑ!"

ඇත්ත තමා. ඒ පොල්කිච් කූඩුවක්. හදලා තියෙන්නේ පුංචි කෝටු කෑලි වලින්. හරියටම පුංචි ලී දඬු වගේ. කූඩුවේ බිම මැටි අහුරා තියෙනවා. ඒ උඩින් පිදුරු ඉහලා. කූඩුවේ මැද තමයි ඇතුළු වීමේ දොර. වහල සාදා තිබෙන්නේ අතු රිකිලිවලින්. හැබෑම පුංචි ලී ගෙයක්. මේ අය පොරොවකට නිය තබන්නේවත් නෑ.

කුරුල්ලන් ගැන මට දැනෙන්නේ හරිම කණගාටුවක්. අත් නැතිව, පොරෝ නැතිව ගෙවල් හදන එක එයාලට බොහෝ අමාරු ඇති! මේ අයට ජීවිතේ ලේසි කරන්නේ කොහොමද කියලා මම කල්පනා කරන්නට වුණා.

ඒ අයට අත් දෙකක් දෙන්න මට පුළුවන් කමක් නෑ. ඒක නම් සහතිකයි. ඒ වුණත් මුට පුළුවනිනේ පොරෝවක් දෙන්න!

මම පුංචිම පුංචි පොරෝවක් හොයාගෙන වත්තට දිව්වා.

නයිට්-ජාර් කුරුල්ලෙක් තණ පඳුරක වාඩි වෙලා ඉන්න හැටි මට පෙනුනා.

"නයිට් ජාර්, නයිට් ජාර්, අත් නැතිව පොරෝ නැතිව කූඩු හදන එක ඔයාට අමාරුයි නේද ?"

"අපොයි නෑ. මම කූඩු හදන්නේ නෑ. මම මෙහෙමයි බිත්තර රකින්නේ" එහෙම කීව නයිට් ජාර් උඩට ඉගිලුනා.

තණ පඳුරේ වක ගැසුණු තැන අපූරු තිත් සහ වෛරම් වැටුණු බිත්තර දෙකක්!

"හ්ම්, මෙයාට කොහෙත්ම අත්වත් පොරෝවත් ඕන නෑ" මම කල්පනා කළා.

මම ඉදිරියට ගියා.

ඉතිං මම ආවේ ගඟක් ළඟටයි. වට පිට බලද්දි මම දුටුවේ ටිකිරිත්තෙක් විලෝ ගසක අතු පතරේ සිටින සැටියි. ඌ උගේ පුංචි හොටයෙන් විලෝ ගස්වල සිනිඳු බූව එකතු කරනවා.

"ටිකිරිත්තෝ ඔයා ඔය බූව වලින් මොකද කරන්නේ?"

"මම කූඩු හදන්නේ මේවයින්. මගේ කූඩුව හරිම උණුසුම්, සැප පහසුයි"

"හ්ම්, එහෙනම් නුඹටත් බූව එකතු කරන්න පොරොවක් ඕන නෑ"

මම තවත් දුරට දිව්වා. දැන් මම ඇවිත් ඉන්නේ ගෙයක් ළඟට.

ගෙදර අගුව ඉහළින්
වහලයේ පහළ කෙළවරේ හිටියේ ලිහිණියෙක්. එයා මැටිවලින් කූඩුවක්
මැටි ගේන්නේ ගං ඉවුරෙන් හොටේට. හොටෙන්ම මැටි අනලා කූඩුව
"මගේ පුංචි පොරොව ලිහිණියාටත් ඕනැ නෑ. ඒක පෙන්නන්නවත් හො
මම ආයෙත් දුවගෙන ගියා.

ඔන්න දැන් කැලෑවක්. මම උඩ බැලුවා. අළු ගසක මුදුනේ තිබුණේ ගී ගයන තිරාසිකයෙකුගේ කූඩුවක්. ඒ කූඩුව කොපමණ නම් ලස්සනද! කූඩුව වටේට අහුරලා තිබුණේ පෙඳ පාසි. ඇතුලේ කෝප්පයක් වගේ සිනිඳුයි.
"ඔච්චර අපූරු කූඩුවක් ඔයා හැදුවේ මොකකින්ද ? ඔය වටේට ඇහුරුවේ කොහොමද ?" මම ඇසුවා.
"මම ඒක හැදුවේ මගේ නියවලිනුයි, හොටෙනුයි" තිරාසිකයා කීවා. "කූඩුව ඇතුලේ ගෑවේ පාප්පයක්. ඒක හදාගත්තේ පුංචි ලී කෑලි හොටෙන් කුඩු කරලා"
"ඒකත් එහෙමද! මං ආයිත් ඇවිත් තියෙන්නේ වැරදි තැනකටයි. මං යන්නම්කෝ වඩු වැඩ කරන කුරුල්ලෙක් හොයාගෙන"

එතකොටම මට ඇසුණා කවුදෝ ගහකට කොටනවා. "ටොක් ටොක්, ටොක් ටොක්, ටොක් ටොක්"
මම ඒ දිහාවට දිව්වා. මම දුටුවේ පුංචි කොට්ටෝරුවෙක්.
එයා ගහක පොත්තක් තදින් අල්ලාගෙන හොටෙන් බිලයක් හාරනවා. ඒ පැටව් ඇති දැඩි කරන්ටයි.
"කොට්ටෝරුවෝ, කොට්ටෝරුවෝ ඕක නවත්තන්න. ඔහොම ගියොත් ඔළුව කැක්කුම හැදේවි. බලන්න මොකක්ද මං ඔයාට ගෙනාව තෑග්ග කියලා. හැබෑම පොරොවක්!'
කොට්ටෝරුවා පොරොව දිහා බලලා මෙහෙම කීවා.

"මා ගැන කල්පනා කළාට බොහෝම ස්තුතියි. ඒත් ඔය පොරොවෙන් මට කිසි ප්‍රයෝජනයක් නෑ. මං කැමති මගේ හොටෙන් වැඩ කරන්නයි. බලන්න මම නියවලින් ගහ තදින් අල්ලගෙනයි ඉන්නේ. පෙඳේ ඒකට රුකුල් දෙනවා. ඊට පස්සේ මම දුන්නක් වගේ වකුටු වෙලා ඔළුව පස්සට ඇදලා ගහට කොටනවා. හොටෙන් වැදෙන්නේ බොහොම සැර පාරක්! පේනවාද ගහේ පතුරු වීසි වෙන හැටි!"
කොට්ටෝරුවා මාව මෝඩයෙක් කළා. හැම කුරුල්ලෙක්ම උපකරණ නැතිව ගෙවල් හදන බවයි පෙනෙන්නේ.
අන්තිමේදී මම රාජාලි කූඩුවක් දුටුවා.

එය ලොකු කෝටු ගොන්නක්. තිබුණේ උසම උස ගහක මුදුනේ.
"කෝටු කපාගන්න ඕන කෙනෙක් මෙතන නම් ඇති" මම සිතුවා.
ගහ ළඟට ගොස් මම කතා කළා.
"රාජාලියෝ, රාජාලියෝ, මං නුඹට පුංචි පොරොවක් ගෙනාවා."
රාජාලියා තටු විහිදලා මෙහෙම කීවා.
"බොහෝම ස්තුතියි දරුවෝ! ඕක මගේ කූඩුවට වීසි කරන්න. මං ඒ උඩින් තව කෝටු ටිකක් අහුරන්නම්. එතකොට කූඩුව තවත් සවි ශක්තිමත් වේවි. හැබෑ අපූරු කූඩුවක් වේවි!"

"ළමා පරපුරට හොඳම පොත් අඩුම මිලට
ලබා දීමේ පුරෝගාමී මෙහෙවරෙහි එක් පියවරකි. මේ"


මුද්‍රණය හා ප්‍රකාශනය

සයුරි ප්‍රින්ටර්ස් ඇන්ඩ් පබ්ලිෂර්ස් පෞද්ගලික සමාගම
අංක: 102/176, මත්තේගොඩ නිවාස සංකීර්ණය පාර,
මත්තේගොඩ
0115-676483 0715-181421
ෆැක්ස්: 0112-844961

ISBN 978-955-1889-07-8


මිල - 60/=

Designing by Nilanak@sayuri 0772-012349